මෙම තීරයේ කිසිවක් නො ලියන්න

(B) ආහාරයක රසායනික සංඝටක මානව පෝෂණයේ වැදගත් මෙහෙයක් ඉටු කරයි. ආහාරයක අන්තර්ගත පහත සඳහන් රසායනික සංඝටකයන්ගේ ප්‍රධාන ක්‍රියාව සඳහන් කරන්න.

| | සංඝටකය | ප්‍රධාන ක්‍රියාව |
|---|---|---|
| (1) | ටොකොෆෙරෝල් | .............................................. |
| (2) | ෆ්ලැවනොයිඩ | .............................................. |
| (3) | ලයිකොපීන් | .............................................. |
| (4) | ඇස්කෝර්බික් අම්ලය | .............................................. |

**(ලකුණු 01 x 4 = 04)**

(C) ජීර්ණයේ දී පෝෂක නිදහස් කරන වේගය අනුව ආහාර වර්ග කළ හැක. පහත දැක්වෙන එක් එක් ආහාර වර්ගය සඳහා උදාහරණය බැගින් සඳහන් කරන්න.

| | ආහාර වර්ගය | උදාහරණය |
|---|---|---|
| (1) | ජීර්ණයේ දී වේගයෙන් පෝෂක නිදහස් කරන ආහාර | .................................... |
| (2) | ජීර්ණයේ දී සෙමෙන් පෝෂක නිදහස් කරන ආහාර | .................................... |

**(ලකුණු 01 x 2 = 02)**

(D) ආහාර සැකසීමේ ක්‍රියාවලිය තුළ විවිධ වර්ගයේ භෞත-රසායනික ක්‍රියාවලීන් අන්තර්ගත වේ. පාන් සැකසීමේ ක්‍රියාවලියේ දී පහත දැක්වෙන එක් එක් භෞත-රසායනික ක්‍රියාවලීන්ගේ බලපෑම සඳහන් කරන්න.

| | භෞත-රසායනික ක්‍රියාවලිය | බලපෑම |
|---|---|---|
| (1) | පැසවීම | .............................................. |
| (2) | ජෙලටනීකරණය | .............................................. |
| (3) | මෙලාඩ් ප්‍රතික්‍රියාව | .............................................. |

**(ලකුණු 01 x 3 = 03)**

(E) වර්ජින් පොල්තෙල් සමග සැසඳීමේ දී අමු පොල්තෙල්වල ඇති භෞත-රසායනික වෙනස්කම් **දෙකක්** සඳහන් කරන්න.

(1) ..........................................................................................................

(2) ..........................................................................................................

**(ලකුණු 01 x 2 = 02)**

(F) (i) සුද්ධීකරණය, එළවළු සැකසීමේ ක්‍රියාවලියේ එක් වැදගත් පියවරක් ලෙස සැලකිය හැක. සුද්ධීකරණය සිදු කළ හැකි ප්‍රධාන ක්‍රම **තුනක්** දක්වන්න.

(1) ..........................................................................................................

(2) ..........................................................................................................

(3) ..........................................................................................................

**(ලකුණු 01 x 3 = 03)**

(ii) සුද්ධීකරණයේ අරමුණු **තුනක්** සඳහන් කරන්න.

(1) ..........................................................................................................

(2) ..........................................................................................................

(3) ..........................................................................................................

**(ලකුණු 01 x 3 = 03)**

මේ තීරයේ කිසිවක් නො ලියන්න.

(G) විවෘත සූර්යය විජලනයේ වාසි **දෙකක්** සඳහන් කරන්න.

(1) ..................................................

(2) ..................................................

**(ලකුණු 01 x 2 = 02)**

(H) සගන්ධ තෙල් සහ ඔලියොරෙසින යනු කුළු බඩු පදනම් වූ ප්‍රධාන නිෂ්පාදන දෙකකි. පහත නිෂ්පාදන නිපදවීමේ දී භාවිත වන ප්‍රධාන සැකසුම් තාක්ෂණ සඳහන් කරන්න.

| | නිෂ්පාදනය | සැකසුම් තාක්ෂණය |
|---|---|---|
| (1) | ඉඟුරු ඔලියොරෙසින | .................... |
| (2) | කුරුඳු සගන්ධ තෙල් | .................... |

**(ලකුණු 01 x 2 = 02)**

(I) ෆ්‍රීසියන් එළදෙනකගෙන් ලබාගන්නා ලද නැවුම් එළකිරිවල අන්තර්ගත මේද ප්‍රතිශතය සහ මේද නොවන ඝන ද්‍රව්‍ය ප්‍රතිශතය (SNF) සඳහන් කරන්න.

(1) මේද ප්‍රතිශතය : ..................................................

(2) මේද නොවන ඝන ද්‍රව්‍ය ප්‍රතිශතය : ..................................................

**(ලකුණු 01 x 2 = 02)**

**4.** (A) පාන් වියලුනු තත්ත්වයට (staling) හේතු වන භෞත-රසායනික ක්‍රියාවලිය සඳහන් කරන්න.

..................................................

**(ලකුණු 01යි)**

(B) ප්‍රරෝහණය වූ මාෂබෝගවල පෝෂණීය වාසි **දෙකක්** සඳහන් කරන්න.

(1) ..................................................

(2) ..................................................

**(ලකුණු 01 x 2 = 02)**

(C) සමතුලිත සංගෘහිත පිටි මිශ්‍රණයක් සඳහා භාවිත කළ හැකි අමුද්‍රව්‍ය **හතරක්** සඳහන් කරන්න.

(1) ..................................................

(2) ..................................................

(3) ..................................................

(4) ..................................................

**(ලකුණු 05 යි)**

(D) (i) කරවල සහ ජාඩි යන දෙවර්ගයම සකසන ලද මත්ස්‍ය නිෂ්පාදන වේ. කරවල සහ ජාඩි අතර ප්‍රධාන වෙනස්කම් **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..................................................

(2) ..................................................

**(ලකුණු 01 x 2 = 02)**

(ii) මස් බෝල නිෂ්පාදනය සඳහා භාවිත කරන අමුද්‍රව්‍ය **දෙකක්** ලැයිස්තුගත කරන්න.

(1) ..................................................

(2) ..................................................

**(ලකුණු 01 x 2 = 02)**

මේ තීරයේ කිසිවක් නො ලියන්න.

(E) ආහාර ද්‍රව්‍යයක ඇසුරුම ආහාර නිෂ්පාදනයේ ගුණාත්මය ආරක්ෂා කිරීමෙහි ලා වැදගත් මෙහෙයක් ඉටු කරනු ලබයි. පහත ආහාර නිෂ්පාදන සඳහා වඩාත් සුදුසු ඇසුරුම නම් කරන්න.

| | ආහාර නිෂ්පාදනය | වඩාත් සුදුසු ඇසුරුම |
|---|---|---|
| (1) | සොසේජස් | ........................................ |
| (2) | එළවළු තෙල් | ........................................ |
| (3) | ලුණුදෙහි | ........................................ |
| (4) | මිරිස් කුඩු | ........................................ |

**(ලකුණු 01 x 4 = 04)**

(F) ආහාර ද්‍රව්‍යයක තෙතමන ප්‍රමාණය තීරණය කිරීම එහි ජීවකාලය නිර්ණය කිරීමට උපකාරී විය හැක. උදුන් වියළීමේ ක්‍රමය භාවිත කිරීමෙන් ආහාරයක තෙතමන ප්‍රමාණය නිර්ණය කිරීමේ ප්‍රධාන පියවර **හතරක්** සඳහන් කරන්න.

(1) ........................................................................................

(2) ........................................................................................

(3) ........................................................................................

(4) ........................................................................................

**(ලකුණු 05 යි)**

(G) ආහාර ද්‍රව්‍යයක අවසාන ගුණාත්මය තහවුරු කිරීම සඳහා විවිධ තත්ත්ව කළමනාකරණ පද්ධතීන් ඇත. පහත සඳහන් කෙටි යෙදුම් මගින් ප්‍රකාශ කෙරෙන තත්ත්ව කළමනාකරණ පද්ධති සඳහන් කරන්න.

| | කෙටි යෙදුම | තත්ත්ව කළමනාකරණ පද්ධතිය |
|---|---|---|
| (1) | HACCP | ........................................ |
| (2) | GAP | ........................................ |

**(ලකුණු 01 x 2 = 02)**

(H) සැලකිය යුතු ප්‍රමාණයක් තැවුම් පලතුරු හා එළවළු පරිභෝජනයෙන් බෝ නොවන රෝගවල අවදානම අඩු විය හැක. තැවුම් පලතුරු හා එළවළු පරිභෝජනයෙන් පාලනය කළ හැකි බෝ නොවන රෝග **දෙකක්** සඳහන් කරන්න.

(1) ........................................................................................

(2) ........................................................................................

**(ලකුණු 01 x 2 = 02)**

* *

නව/පැරණි නිර්දේශය – புதிய/பழைய பாடத்திட்டம் – New/Old Syllabus

**NEW/OLD**

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2019 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2019 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2019

ආහාර තාක්ෂණවේදය II
உணவுத் தொழினுட்பவியல் II
Food Technology II



## රචනා

※ **B** සහ **C** යන කොටස්වලින් එක් කොටසකින් ප්‍රශ්න **දෙක** බැගින් තෝරාගෙන, ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.

(එක් ප්‍රශ්නයකට ලකුණු **15** බැගින් ලැබේ.)

### B කොටස

**5.** (i) මිනිසුන්ගේ ළදරු හා වයස්ගත අවධිවල පෝෂණ අවශ්‍යතා හේතු දක්වමින් සංසන්දනය කරන්න.

(ii) කෘෂි රසායන භාවිත කිරීමේ දී භූගත ජල දූෂණය වළක්වා ගත හැකි ආකාරය පැහැදිලි කරන්න.

(iii) වාණිජ පැළ තවානක් ස්ථාපනය කිරීමේ දී සැලකිය යුතු සාධක පැහැදිලි කරන්න.

**6.** (i) ආහාර සුරක්ෂිතතාව කෙරෙහි ප්‍රජා-පාදක ක්‍රියාකාරකම්වල බලපෑම කෙටියෙන් පැහැදිලි කරන්න.

(ii) ව්‍යාපාරයක් සාර්ථකව කළමනාකරණය කිරීම හා බැඳුණු ප්‍රධාන ක්‍රියාකාරකම් විස්තර කරන්න.

(iii) ආහාර නරක්වීම සඳහා හේතු වන ජෛව විද්‍යාත්මක සාධක කෙටියෙන් විස්තර කරන්න.

**7.** (i) කෘෂිකර්මයේ දී ජාන ඉංජිනේරු තාක්ෂණය යොදා ගැනීමේ ඇති වාසි සහ අවාසි විස්තර කරන්න.

(ii) ශ්‍රී ලංකාවේ, ධාන්‍යවලට සාපේක්ෂව පලතුරු සහ එළවළුවල පසු අස්වනු හානිය වැඩිවීමට හේතු විස්තර කරන්න.

(iii) කෘෂිකාර්මික අපද්‍රව්‍ය කළමනාකරණයේ දී 3R සංකල්පයේ විවිධ භාවිත විස්තර කරන්න.

### C කොටස

**8.** (i) ජෛවභායනයට ලක්විය හැකි ඇසුරුම් ද්‍රව්‍යවල වැදගත්කම උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න.

(ii) විදි ආහාර පරිභෝජන පුරුදු හා බැඳුනු සෞඛ්‍ය ගැටලු විස්තර කරන්න.

(iii) සත්ත්ව-මූලික ආහාර නිෂ්පාදනයක් සැකසූ විට එහි ගුණාත්මය, ඒ හා සමාන වෙළඳ නිෂ්පාදන සමග සැසඳිය යුතු ය. නව යෝගට් නිෂ්පාදනයක ගුණාත්මය පරීක්ෂා කිරීමේ ක්‍රමවේදය විස්තර කරන්න.

**9.** (i) පොල්තෙල්වල මූලික ගුණාත්මය කෙරෙහි සංශුද්ධ කිරීම, වර්ණ ඉවත් කිරීම සහ ගන්ධයන් ඉවත් කිරීමේ ක්‍රමවේදයන්ගේ බලපෑම විස්තර කරන්න.

(ii) කැල්සියම් ඌනතාවය හා සබැඳුණු මානව සෞඛ්‍ය ගැටලු පැහැදිලි කරන්න.

(iii) ජෑම් නිෂ්පාදන ක්‍රියාවලියේ වැදගත් පියවර විස්තර කරන්න.

**10.** (i) තැම්බූ සහල් නිෂ්පාදන ක්‍රියාවලියේ ප්‍රධාන ඒකක ක්‍රියාකාරකම්වල බලපෑම විස්තර කරන්න.

(ii) "සෞඛ්‍ය සම්පන්න ජීවිතයක් පවත්වා ගැනීමෙහි ලා වැදගත් වන ජෛව-සක්‍රිය සංයෝග බොහොමයක් කුළුබඩුවල අන්තර්ගත වේ." මෙම ප්‍රකාශය පැහැදිලි කරන්න.

(iii) සංවේදී ඇගයීමක (Sensory evaluation) මූලික පියවර හා ඒවායේ වැදගත්කම උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න.

※ ※ ※

## B කොටස

5. (i) **මිනිසුන්ගේ ළදරු හා වයස්ගත අවධිවල පෝෂණ අවශ්‍යතා හේතු දක්වමින් සංසන්දනය කරන්න.**

**ළදරු අවධිය**

උපතේ සිට මාස 06 ඉක්ම වූ වසර 5ට අඩු අර්ධ හා අර්ධ ඝණ ආහාර ප්‍රධාන වශයෙන් ගනු ලබන අවධියේ පසුවන දරුවන් **(ලකුණු 5)**

**ආහාර අවශ්‍යතාව**

1. දරුවන්ගේ වර්ධන කාලය බැවින් ප්‍රෝටීන් බහුල ආහාර ලබා දීම
2. මොළයේ ස්නායු සෛල වර්ධනයට D.H.A. වැනි ඕමේගා 3 කාණ්ඩයේ මේද අම්ල අඩංගු ආහාර ලබා දීම
3. ක්‍රියාශීලී අය බැවින් අධික දේහ ක්‍රියාකාරීත්වය සඳහා ශක්තිජනක ආහාර අවශ්‍ය වීම
4. අස්ථි වර්ධනය සඳහා කැල්සියම් හා අනෙකුත් ඛනිජමය ආහාර ලබා දීම
5. ප්‍රතිශක්ති කරන හැකියාව වර්ධනය සඳහා විටමින් වර්ග ලබා දෙන එළවළු, පළතුරු, පලා වර්ග, කිරි, බිත්තර වැනි ආහාර ලබා දීම
6. ජීර්ණ ක්‍රියාවලිය හොඳින් සිදු වීම සඳහා තන්තු සහිත ආහාර ලබා දීම
7. ස්නායු පද්ධතියේ ක්‍රියාකාරීත්වයට Fe අඩංගු ආහාර ලබා දීම

**(ලකුණු 5 බැගින් කරුණු 4ක් සඳහා ලකුණු 20)**

**වයස්ගත අවධිය**

අවුරුදු 60 ඉක්ම වූ වයස් කාණ්ඩවල පසුවන පුද්ගලයින්. **(ලකුණු 5)**

**ආහාර අවශ්‍යතාව**

1. ජීර්ණ හැකියාව අඩු බැවින් පහසුවෙන් ජීරණය කළ හැකි ආහාර ලබා දීම
2. සීනි, පිෂ්ඨ වැනි ආහාර අඩුවෙන් ලබා දීම මඟින් දියවැඩියාව වැනි සෞඛ්‍ය ගැටළු පාලනය කිරීම
3. අධි රුධිර පීඩනය, කොලොස්ටරෝල් වැනි ගැටළු අවම කිරීමට මේද සහිත ආහාර දීමෙන් වැළකීම
4. මළ බද්ධය වැනි තත්ත්ව වැළැක්වීම සඳහා තන්තු බහුල ආහාර ලබා දීම
5. කැල්සියම් අවශ්‍යතාව සපුරාලීමට මේද රහිත කිරි, එළවළු, කුඩා මාළු, වැනි ආහාර හා පලා වර්ග ලබා දීම

**(ලකුණු 5 බැගින් කරුණු 4ක් සඳහා ලකුණු 20)**

(ii) **කෘෂි රසායන භාවිත කිරීමේ දී භූගත ජල දූෂණය වළක්වා ගත හැකි ආකාරය පැහැදිලි කරන්න.**

කෘෂිකර්මාන්තයේ දී භාවිතා කරනු ලබන රසායනික පොහොර හා පළිබෝධ නාශක කෘෂි රසායන ලෙස හඳුන්වනු ලබයි. (ලකුණු 10)

**භූගත ජල දූෂණය වැළැක්වීම**

- ශාකයේ වර්ධන අවධිය සලකා ඊට ගැළපෙන ප්‍රමාණයට රසායනික පොහොර යෙදීම
- රසායනික පොහොර යොදන විට කාබනික පොහොර සමඟ එකට යෙදීම තුලින් පොහොර ක්ෂරණය වීම වැළැක්වීම (හෝ පොහොර භාවිතයේ කාර්යක්ෂමතාව වැඩි කිරීම)
- පස පරීක්ෂා කර බලා අවශ්‍යතාවයට සරිලන ප්‍රමාණයක් රසායනික පොහොර යෙදීම.
- පළිබෝධ නාශක යෙදීමේ දී විෂ අඩු රසායනික නියමිත මාත්‍රාවෙන් යෙදීම
- විකල්ප පළිබෝධ පාලන ක්‍රම භාවිතය.
- වගා ක්ෂේත්‍රය හොඳින් පිළියෙල කර පළිබෝධ වර්ධනය පාලනය කිරීම.
- වගාව හා අවට පරිසරය පිරිසිදුව තබා ගැනීම මගින් වගාවට පළිබෝධ පැමිණීම වළක්වා ගැනීම
- වැලි පසක් ඇති ස්ථානවල කෘෂි රසායන යෙදීම අවම කිරීම
- ඒකාබද්ධ ශාක පෝෂණ පද්ධති භාවිත කිරීම
- ඒකාබද්ධ පලිබෝධ පාලන ක්‍රම භාවිත කිරීම

**(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)**

(iii) **වාණිජ පැළ තවානක් ස්ථාපනය කිරීමේ දී සැලකිය යුතු සාධක පැහැදිලි කරන්න.**

වාණිජ පැල තවාන : ව්‍යාපාරයක් අරමුණු කරගෙන, පැල ක්ෂේත්‍රයේ සිටුවන තෙක් ආරක්ෂිතව පැල රැක බලා ගන්නා ස්ථානය **(ලකුණු 10)**

- පාරිභෝගිකයන් / ගැණුම්කරුවන් හට පහසුවෙන් ළගාවිය හැකි ස්ථානයක් වීම (උදා : වාහන ප්‍රවාහනයට මාර්ග පහසුකම්)
- හොඳින් ජලවහනය වන හා ජලයෙන් යට නොවන ස්ථානයක් විය යුතුය.
- හොඳින් හිරු එළිය පතිතවන ස්ථානයක් වීම
- අහිතකර පරිසර තත්ත්වවලට ගොදුරු නොවන ස්ථානයක් විය යුතුය (අධික සුළඟ, අධික උෂ්ණත්වය)
- සතුන්ට පහසුවෙන් ලගා විය නොහැකි ස්ථානයක් වීම
- දිගින් දිගටම බෝග වගාකර රෝග හා පළිබෝධවලට ලක්නොවූ ස්ථානයක් විය යුතුය.

**(එක් එක් සාධකය නම් කිරීම සඳහා ලකුණු 4 ක් සහ පැහැදිලි කිරීම සඳහා ලකුණු 4ක් බැගින්, සාධක 5 ක් සඳහා ලකුණු 40)**

6. (i) **ආහාර සුරක්ෂිතතාව කෙරෙහි ප්‍රජා-පාදක ක්‍රියාකාරකම්වල බලපෑම කෙටියෙන් පැහැදිලි කරන්න.**

ප්‍රජා පාදක ක්‍රියාකාරකම් යනු යම් කටයුත්තක් සමූහයක් හෝ කණ්ඩායම් එක්ව කරන ක්‍රියාකාරකම් වේ. **(ලකුණු 10)**

**බලපෑම්**

- ප්‍රජාව එක්ව ගෙවතු වගාවට යොමු වීමෙන් තම පවුලේ ආහාර අවශ්‍යතාව පහසුවෙන් සපුරා ගත හැකි වීම.
- ප්‍රාදේශීය වශයෙන් ආහාර සුරක්ෂිතතාව තහවුරු වීම
- සමතුලිත ආහාර වේලක් සෑමට ලබා ගත හැකි වීම
- අතිරික්තව නිපදවන නිෂ්පාදන පරිරක්ෂණයට යොමු වීම. හිඟ කාල වල ප්‍රයෝජනයට ගත හැකි වීම හා හිඟ පළාත්වලට යොමු කළ හැකි වීම
- විවිධ ප්‍රදේශවලට ගැළපෙන ආහාර බෝග වගා කිරීමට පෙළඹීම තුළින් ආහාර හිඟයක් ඇති නොවීම
- සංවිධානාත්මකව කණ්ඩායම් ලෙස බෝග වගා කිරීම, සත්ව පාලනය, වැනි කටයුතුවලට යොමු වීමෙන් පරිරක්ෂණය, අලෙවිය, ඉල්ලුමට සරිලන සැපයුමක් ලබා දීම යන කටයුතු සිදුකළ හැකිවීම
- රාජ්‍ය හා රාජ්‍ය නොවන සංවිධාන සමඟ ප්‍රජාව එක්ව කෘෂි කටයුතුවලට යොමු වීමෙන් ජාතික ආහාර සුරක්ෂිතතාව තහවුරු කිරීම
- අවභාවිත ඵලවළු, පළතුරු භාවිතයට යොමු වීම තුළින් ග්‍රාමීය මට්ටමේ ආහාර සුරක්ෂිතතාව ඇතිවීම
- වසර පුරා ආහාර වගා කිරීම තුළින් වෙළඳපල මිල උච්චාවචනය වැළැක්විය හැකි වීම
- ජාතික ආහාර සුරක්ෂිතතාව තහවුරු වීම.

**(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)**

(ii) **ව්‍යාපාරයක් සාර්ථකව කළමනාකරණය කිරීම හා බැඳුණු ප්‍රධාන ක්‍රියාකාරකම් විස්තර විස්තර කරන්න.**

**ව්‍යාපාර කළමනාකරණය යනු :**

තමන් ආරම්භ කිරීමට අදාළ ව්‍යවසායට අරමුණු පිහිටුවා ගෙන එම අරමුණු ඉහළ මට්ටමින් සපුරා ගැනීම සඳහා සීමිත සම්පත් නිවැරදිව යෙදවීමයි.

**හෝ**

කාර්යක්ෂමතාවයකින් යුතුව සම්පත් යොදා ගනිමින් ඵලදායී ලෙස අරමුණු හෝ පරමාර්ථ ඉටුකර ගැනීමට අදාළ කාර්යයන් ඇතුළත් ක්‍රියාවලිය කළමනාකරණය වේ.

**(ලකුණු 10)**

**ක්‍රියාකාරකම් :-**

**<u>සැලසුම්කරණය</u>**

- ව්‍යාපාරයේ අරමුණට අනුව යා යුතු ඉලක්ක තීරණය කිරීම
- එම අරමුණට ගිය බව දැන ගැනීම
- එම අරමුණට යන ක්‍රමය හඳුනා ගැනීම
- අරමුණට යාමට අවශ්‍ය සම්පත් හඳුනා ගැනීම

**සංවිධානය**

- ව්‍යාපාරයට අදාළ සංවිධාන ව්‍යුහයන් තෝරා ගැනීම
- එයට අදාළ ද්‍රව්‍යමය සම්පත් තෝරා ගැනීම
- කාලය හා මුදල් වෙන්කර ගැනීම

**මෙහෙයවීම**

- ව්‍යවසායක මෙහෙය වීම සඳහා ව්‍යවසායකයා සතුව නායකත්ව ලක්ෂණ තිබිය යුතුය. වැඩ පැවරීම, සන්නිවේදනය, තීරණ ගැනීම, ගැටලු විසඳීම, සම්බන්ධීකරණය , ආත්ම විශ්වාසය

**ඇගයීම**

- ව්‍යවසායකයාගේ ප්‍රගතිය සොයා බැලීමයි. එහිදී නියාමනය හා ඇගයීම සිදු කළ යුතුය.

**(ප්‍රධාන ක්‍රියාකාරකම් නම් කිරීම සඳහා ලකුණු 5 බැගින් ලකුණු 20.**

**එක් කොටසක් විස්තර කිරීම සඳහා ලකුණු 5 බැගින් ලකුණු 20)**

(iii) **ආහාර නරක්වීම සඳහා හේතුවන ජෛව විද්‍යාත්මක සාධක කෙටියෙන් විස්තර කරන්න.**

ක්‍ෂුද්‍ර ජීවීන්, මහා ජීවීන් සහ එන්සයිමීය ක්‍රියා හේතුවෙන් ආහාරවල භෞතික ගුණාංග පිරිහී පරිභෝජනයට නුසුදුසු තත්ත්වයට පත්වීම ජෛව සාධක නිසා ආහාර නරක්වීම වේ. **(ලකුණු 10)**

**සාධක**

- ආහාර මත වැඩෙන විෂම පෝෂී බැක්ටීරියා ආහාර වැලකී ප්‍රෝටීන, කාබෝහයිඩ්‍රේට්, මේද මත යැපීමේ දී ආහාර මත ශ්‍රාවය කරන බහිස් සෛලීය එන්සයිම නිසා ආහාරයේ භෞතික, රසායනික ගුණාංග පිරිහීම
- මස්, මාළු, මත වැඩෙන බැක්ටීරියා ශ්‍රාවය කරන එන්සයිම මඟින් ප්‍රෝටීන ජල විච්ඡේදනය කර ඇමීන, ඇමෝනියා හයිඩ්‍රජන් සල්ෆයිඩ් සෑදීම

- යීස්ට් වැනි ක්ෂුද්‍ර ජීවීන් කාබෝහයිඩ්‍රේට්මය ආහාර පැසීමට ලක්කර අම්ල, මධ්‍යසාර, වායූ නිපදවීම
- පළතුරු, පිෂ්ටමය ආහාර මත දිලීර වර්ධනය වීමෙන් පුස් සෑදීම
- මේදමය ආහාර මත ලිපොලටික ක්ෂුද්‍ර ජීවීන් වර්ධනය වී මේදය බිඳ හෙලීම නිසා ආහාරය මුඩුවීම
- කිරි මත බැක්ටීරියා වර්ධනය වී ආවේනික රසය, ගන්ධය බාහිර පෙනුම වෙනස් කිරීම
- කෘමීන්, පෘෂ්ඨවංශීන්, ධාන්‍ය මාංශ බෝග, අලවර්ග ආහාරයට ගැනීමෙන් හා මළ අපද්‍රව්‍ය එකතුවීමෙන් ගුණාත්මය පිරිහීම
- ආහරවල පෝෂණ අගය හා පෝෂක පවතින ආකාරය අනුව ක්ෂුද්‍ර ජීවී වර්ධනය වන වේගය තීරණය වීම.
- එළවළු මත බැක්ටීරියා වර්ධනය වී මෘදු කුණුවීමකට ලක් කිරීම

**(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)**

7. (i) **කාෂිකර්මයේ දී ජාන ඉංජිනේරු තාක්ෂණය යොදා ගැනීමේ ඇති වාසි සහ අවාසි විස්තර කරන්න.**

ජාන තාක්ෂණය යනු තාක්ෂණය යොදා ගනිමින් ජීවියෙකුගේ ජාන වෙනස් කිරීම වේ

**(ලකුණු 10)**

**වාසි**

- සාමාන්‍ය බෝගවලට වඩා වැඩි අස්වනු ලබාගත හැකි බෝග නිපදවීම
- කෙටි කාලයකින් අස්වනු ලබාදෙන බෝග වර්ග නිෂ්පාදනය
- පරිසර තත්ත්ව වලට හොඳින් ඔරොත්තු දෙන බෝග නිපදවීම
- කෘමි හානිවලට ප්‍රතිරෝධී බෝග නිපදවීම
- ආහාරවල ගුණාත්මක බව වැඩිකරගත හැක. උදා : රන් සහල්
- වල්නාශක වලට ඔරොත්තු දෙන ජාන බෝගවලට ඇතුල්කර ක්ෂේත්‍රයේ වල් මර්ධනය පහසු කළ හැක.

**(ලකුණු 4 බැගින් කරුණු 5ක් සඳහා ලකුණු 20)**

**අවාසි**

- සුදුසු තාක්ෂණික පුහුණුවලත් පුද්ගලයින් අවශ්‍ය වේ.
- විද්‍යාගාර පහසුකම් තිබිය යුතුය.
- නව ආහාරවල ඇති සෞඛ්‍ය තත්ත්ව පිළිබඳ තවමත් තහවුරු කර නොතිබීම.
- සෞඛ්‍ය තත්ත්වය තහවුරු කර නොමැති නිසා මිනිසුන් එම ආහාරයට ඇති ආකර්ශනය අඩු වී ඇත.
- පළිබෝධකයන් බෝගයේ නව තත්ත්වවලට (ජාන සංයුතියට) අනුවර්තනය විය හැක.
- වියදම් අධික තාක්ෂණ ක්‍රමයකි.
- තාක්ෂණය අනර්ථකාරී ලෙස යොදා ගැනීම.

**(ලකුණු 4 බැගින් කරුණු 5ක් සඳහා ලකුණු 20)**

(ii) **ශ්‍රී ලංකාවේ ධාන්‍යවලට සාපේක්ෂව පලතුරු සහ එළවළුවල පසු අස්වනු හානිය වැඩිවීමට හේතු විස්තර කරන්න.**

අස්වනු නෙලන අවස්ථාවේ සිට පරිභෝගිකයා අතට පත්වී පරිභෝජනයට ගන්නා තෙක් ධාන්‍ය, එළවළු, පළතුරු වලට සිදුවන ප්‍රමාණාත්මක හා ගුණාත්මක හානි පසුඅස්වනු හානි වේ. **(ලකුණු 10)**

**එළවළු, පළතුරු වල හානි වැඩිවීමට හේතු**

- ධාන්‍යවලට සාපේක්ෂව එළවළු, පළතුරු වල ජල ප්‍රතිශතය වැඩිවීම නිසා පහසුවෙන් ක්ෂුද්‍රජීවී ආසාදන වලට ලක්වීම
- ධාන්‍ය වල ජීව ක්‍රියා සිදුවන වේගය අඩු අතර එළවළු, පළතුරු අස්වනු නෙලූ පසුවද ශ්වසනය, ජලය පිටවීම අඛණ්ඩව සිදුවීම. මේ නිසා මැලවීම, හැකිලීම ඉදීම බර අඩු වීම සිදු වේ.
- එළවළු, පළතුරු වල මාංශල බව වැඩි බැවින් පහසුවෙන් තැලීම්, සිරීම්, පළුදුවීම් වලට ලක් වීම
- එළවළු, පළතුරු ගබඩා කිරීමට විශේෂිත ශිත ගබඩා තත්ත්ව අවශ්‍ය වීම හා ශ්‍රී ලංකාවේ එවැනි පහසුකම් නොමැති වීම
- අස්වනු නෙලන අවස්ථාව වනවිට ධාන්‍යවල තෙතමන ප්‍රතිශතය අඩුවීම නිසා හානි වීම අඩුවේ.
- ධාන්‍යවලට සාපේක්ෂව පළතුරු මහා ජීවීන්ගේ හානිවලට පහසුවෙන් ලක්වීම
- අස්වනු නෙළූ පසු ද එළවළු මේරීමේ තත්ත්වයට පත්වීම
  උදා : බණ්ඩක්කා
- එළවළු, පළතුරු ඇසිරීම, ප්‍රවාහනය සඳහා විශේෂිත තත්ත්ව අවශ්‍ය වීම හා එම තත්ත්ව නොලැබීමෙන් භෞතික රසායනික හා ජෛවීය හානිවලට ලක්වීම
- එළවළු, පළතුරු පැටවීමේ දී හා බෑමේ දී රළු පරිහරනය තුළින් භෞතික හානිවලට ලක්වීම

**(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)**

(iii) **කෘෂිකාර්මික අපද්‍රව්‍ය කළමනාකරණයේ දී 3R සංකල්පයේ විවිධ භාවිත විස්තර කරන්න.**

කෘෂි කර්මාන්තයේ දී අපේක්ෂිත ප්‍රධාන නිෂ්පාදනයට අතිරේකව නිපදවෙන මිනිසාට ඍජු ප්‍රයෝජනයක් නැතැයි සලකා ඉවතලන ද්‍රව්‍ය කෘෂි අපද්‍රව්‍ය වේ.

**(ලකුණු 8)**

**අප ද්‍රව්‍ය කළමනාකරණය කළහැකි ක්‍රම 3 ක් ලෙස 3R සංකල්පය වැදගත්වේ.**

01. කසල උත්පාදනය අඩු කිරීම - Reduce

- සතුන්ට ආහාර සැපයීමේදී ප්‍රමාණය ඉක්මවා දීමෙන් වැලකීම

02. නැවත භාවිතය - Re use

- වී අස්වනු ලෙස කරල් පමණක් නෙලා ගැනීම
- කෘෂි නිෂ්පාදන ඇසුරුම් ලෙස ස්වභාවික ඇසුරුම භාවිතය
- පොල් කර්මාන්ත අපද්‍රව්‍ය වන පොල්ලෙලි කෙදි ලබා ගැනීමට හා එමගින් නිපදවන කොහුබත් වගාමාධ්‍යයක් ලෙස භාවිතය.
- පොල් කටු අගුරු නිෂ්පාදනය හා විසිතුරු භාණ්ඩ හැදි නිෂ්පාදනය යෙවීම
- සහල් නිෂ්පාදන අතුරු ඵල වන දහයියා ඉන්ධන ලෙස භාවිතා කිරීම හා කුකුල් පාලනයේදී අතුරනු ලෙස යොදවීම
- සත්ත්ව පාලනය ආශ්‍රිත අපද්‍රව්‍ය ජීව වායු නිපදවීමට යෙදවීම හා කාබනික පොහොර ලෙස භාවිත කිරීම

03. ප්‍රතිචක්‍රීකරණය - Recycling

- එළවළු, පලතුරු ආශ්‍රිත අපද්‍රව්‍ය කොම්පෝස්ට් නිෂ්පාදනය සඳහා යෙදවීම
- අපතේයන එළවළු, පලතුරු සත්ව ආහාර ලෙස යෙදවීම
- ආහාර බෝග අවශේෂ කාබනික වසුන් ලෙස භාවිතය හා සත්ව ආහාර ලෙස යෙදවීම
- බෝග අවශේෂ ජීව වායු නිෂ්පාදනයේ අමු ද්‍රව්‍ය ලෙස භාවිතා කිරීම
- මාළු ආශ්‍රිත අපද්‍රව්‍ය කාබනික දියර පොහොර නිෂ්පාදනයට යෙදීවීම.

**(ලකුණු 4 බැගින් ලකුණු 12; එක් එක් ක්‍රමය විස්තර කිරීම සඳහා ලකුණු 10 බැගින් ලකුණු 30)**

## C කොටස

8. (i) **ජෛවහායනයට ලක්විය හැකි ඇසුරුම් ද්‍රව්‍යවල වැදගත්කම උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න.**

ජෛව හායනයට ලක්වන ඇසුරුම් ද්‍රව්‍ය යනු, යම් ඇසුරුම් ද්‍රව්‍යයක් හෝ ඇසුරුමක් පරිසරයට හානියක් නොවී දිරාපත් වීමට ලක්වන ඇසුරුම් හෝ ඇසුරුම් ද්‍රව්‍ය වේ.

(ලකුණු 10)

**වැදගත්කම :-**

- ඉක්මනින් දිරාපත්වීමට ලක්වීම නිසා පස, ජලය, වාතය දූෂණයට ලක් නොවීම.
- මිනිසා ඇතුළු අනෙකුත් ජීවීන්ට හානියක් සිදු නොවීම.
- විශේෂ ප්‍රතිචක්‍රීකරණ ක්‍රියාවලි අවශ්‍ය නොවීම.
- පරිසරයේ එකතුවීමෙන් මැසි මදුරු උවදුරු ඇති නොවීම.
- ශාකමය ඇසුරුම් ද්‍රව්‍ය පිලිස්සීමෙන් පරිසරයට විෂ රසායන එකතු නොවීම.
- අපද්‍රව්‍ය ලෙස ගොඩ ගසා තැබීමට පරිසරයේ ඉඩ ඇසිරීයාම වැලැක්වීම.
- මිල අඩුවීම හා ස්වභාවික පරිසරයෙන් පහසුවෙන් සපයාගත හැකි වීම.
- ස්වයං ජීර්ණයට ලක්වීම නිසා විශේෂ අපද්‍රව්‍ය කළමනාකරණ ක්‍රියාකාරකම් අවශ්‍ය නොවීම.

(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)

(ii) **වීදි ආහාර පරිභෝජන පුරුදු හා බැඳුනු සෞඛ්‍ය ගැටලු විස්තර කරන්න.**

වීදි ආහාර යනු, වීදියේ සකසන හා/හෝ එලිමහනේ විකුණන ආහාර වන අතර එම ආහාර ක්ෂණික, යුහුසුළු, ප්‍රාථමික මට්ටමේ සැකසූ ආහාර විය හැක.

(ලකුණු 10)

**සෞඛ්‍ය ගැටලු**

- මේද, ප්‍රෝටීන්, කාබෝහයිඩ්‍රේට අධික බැවින් ලැබෙන කැලරි ප්‍රමානය වැඩිවීම නිසා දිගුකාලීනව පරිභෝජනයෙන් ස්ථුලතාව ඇතිවීම.
- විටමින් හා ඛනිජ වර්ග අඩුවීමෙන් ඌනතා රෝගවලට ලක්වීම.
- මේදය අධික ආහාර බැවින් කොලෙස්ටරෝල් මටට්ම වැඩිවීම.
- පිෂ්ඨමය බේකරි නිෂ්පාදන දිගුකාලීන පරිභෝජනයෙන් දියවැඩියාවට ගොදුරු වීම.
- මේදමය ආහාර පරිභෝජනයෙන් ට්‍රාන්ස් මේද අම්ල වැනි මේද අම්ල ශරීරගතවී පිලිකා තත්ත්ව වලට ගොදුරු විය හැකිවීම.
- තන්තු අඩු ආහාර බැවින් මල බද්ධයට ලක්වී ආහාර මාර්ගය ආශ්‍රිත රෝගවලට ගොදුරු වීම.
- සමතුලිත ආහාරයක් නොවන බැවින් පෝෂණ සංකූලතා ඇතිවීම.
- දරුවන්ගේ වර්ධන අවධියේ ලැබිය යුතු පෝෂක අඩුවන බැවින්, ස්නායු, අස්ථි වර්ධනය නිසි ලෙස සිදු නොවීම.

- ප්‍රතිශක්තිකරණ හැකියාව අඩුවී පහසුවෙන් බෝවන රෝගවලට ගොදුරු වීම.

**(ලකුණු 5 බැගින් කරුණු 8ක් සඳහා ලකුණු 40)**

(iii) **සත්ත්ව-මූලික ආහාර නිෂ්පාදනයක් සැකසූ විට එහි ගුණාත්මය, ඒ හා සමාන වෙළඳ නිෂ්පාදන සමග සැසඳිය යුතු ය. නව යෝගට් නිෂ්පාදනයක ගුණාත්මය පරීක්ෂා කිරීමේ ක්‍රමවේදය විස්තර කරන්න.**

භෞතික, රසායනික, ජෛවීය හා ඉන්ද්‍රීය ගෝචර යන පරීක්ෂණ ක්‍රමවේදයන් ඔස්සේ නව යෝගට් නිෂ්පාදනයක් හා වෙළඳපොල නිෂ්පාදන සැසඳීම මගින් ගුණාත්මය සැසඳිය හැක.

**(ලකුණු 10)**

**ක්‍රමවේද :-**

1. සාම්පල ලබා ගැනීම.
2. වයනය, පෙනුම, සුවඳ, රසය, ස්වාදය වැනි භෞතික හා ඉන්ද්‍රීය ගෝචර ලක්ෂණ ඇගයීමට ලක්කිරීම.
3. වෙළඳපොල සාම්පලය හා නව සාම්පලය වෙන වෙනම ප්‍රධාන රසායනික සංයුතීන් පරීක්ෂා කිරීම.
   (මේද, ප්‍රෝටීන, කාබෝහයිඩ්‍රේට)
4. වෙළඳපොල සාම්පලය හා නව සාම්පලය ක්ෂුද්‍ර ජීවී ස්ථාවරත්වය ඇගයීමට ලක්කිරීම.
5. උක්ත ප්‍රතිඵල පදනම් කරගනිමින් ජීව කාලය සංසන්දනය කිරීම.

**(ලකුණු 5 ට ලකුණු 8 බැගින් 5 x 8 = 40)**

9. (i) **පොල්තෙල්වල මූලික ගුණාත්මය කෙරෙහි සංශුද්ධ කිරීම, වර්ණ ඉවත් කිරීම සහ ගන්ධයන් ඉවත් කිරීමේ ක්‍රමවේදයන්ගේ බලපෑම විස්තර කරන්න.**

1. ශුද්ධ කිරීම.
   a. ලෙසිතීන් වැනි ද්‍රව්‍ය ඉවත්වීම.
   b. විටමින් E ඉවත්වීම.
   c. අධික උෂ්ණත්වයට රත්වීම නිසා පිලිකා කාරක සංයෝග ඇතිවීම.

2. වර්ණ ඉවත් කිරීම.
   a. ලාක්ෂණික වර්ණක ඉවත්වීම.
   b. කැරොටොනොයිඩ වර්ණක ඉවත්වීම.
   c. ස්වභාවික ප්‍රතිඔක්සිකාරක ඉවත්වීම.

3. ගන්ධය ඉවත්කිරීම.
    a. ලාක්ෂණික ගන්ධය ඉවත්වීම.
    b. පෝෂණ හානි සිදුවීම.

**(කරුණු නම් කිරීම සඳහා ලකුණු 4 බැගින් කරුණු 8 ක් සඳහා ලකුණු 32, කරුණු විස්තර කිරීම සඳහා ලකුණු 18)**

(ii) **කැල්සියම් ඌනතාවය හා සබැඳුණු මානව සෞඛ්‍ය ගැටලු පැහැදිලි කරන්න.**

කැල්සියම් යනු ඉතා සුළු ප්‍රමාණවලින් අවශ්‍ය වන අත්‍යවශ්‍ය ඛනිජයකි.

**(ලකුණු 08)**

**මානව සෞඛ්‍ය ගැටලු**

- වයස් ගතවන විට ඔස්ටියොපොරෝසිස් වලට ලක්වීම.
- දත් හා අස්ථි දුර්වල වී දිරායාම.
- හිසකේ වර්ධනය අඩුවීම.
- මාංශ පේශි ක්‍රියාකාරිත්වයට බාධා පැමිණීම.
- කිරි දෙන මව්වරුන්ගේ Ca ඌණ වීම නිසා හිසකේ ගැලවී යාම හා හිසකේ වර්ධනය අඩුවීම, ආහාරයේ අන්තර්ගත Ca සමඟ ඔක්සලේට් අයන එකතුවී මුත්‍ර ගල් සෑදීම.)
- නියපොතු දිරායාම.
- විටමින් D අඩුවීමෙන් Ca අවශෝෂණය අඩුවී, ආහාරයේ අන්තර්ගත Ca සමඟ ඔක්සලේට් අයන එකතුවී මුත්‍ර ගල් සෑදීම.

**(ලකුණු 6 බැගින් කරුණු 7ක් සඳහා ලකුණු 42)**

(iii) **ජෑම් නිෂ්පාදන ක්‍රියාවලියේ වැදගත් පියවර විස්තර කරන්න.**

ජෑම් යනු, හොඳින් ඉදුණු පලතුරු පල්පකර සීනි යොදා ආස්‍රැතියක විජලනයට ලක්කර නිපදවන අර්ධ ඝණ ආහාරයකි.

**(ලකුණු 10)**




**(පියවර 11 සඳහා ලකුණු 2 බැගින් ලකුණු 22; පියවර විස්තර කිරීම සඳහා ලකුණු 2 බැගින් කරුණු 9කට ලකුණු 18)**

10. (i) **තැම්බූ සහල් නිෂ්පාදන ක්‍රියාවලියේ ප්‍රධාන ඒකක ක්‍රියාකාරකම්වල බලපෑම විස්තර කරන්න.**

ඇල් ජලයේ හෝ උණු ජලයේ නියමිත කාලය පොගවන ලද වී හුමාලයෙන් තම්බා, වියලා සකසන සහල් තැම්බූ සහල් වේ.

**(ලකුණු 10)**




**(ඒකක ක්‍රියාකාරකම් 8 සඳහා ලකුණු 2බැගින් 02 x 8 = 16; පියවර විස්තර කිරීම සඳහා ලකුණු 3 බැගින් 03 x 8 = 24)**

(ii) **"සෞඛ්‍ය සම්පන්න ජීවිතයක් පවත්වා ගැනීමෙහි ලා වැදගත් වන ජෛව-සක්‍රීය සංයෝග බොහොමයක් කුළුබඩුවල අන්තර්ගත වේ." මෙම ප්‍රකාශය පැහැදිලි කරන්න.**

ආහාර සැකසීමේදී වර්ණය, රසය, සුවඳ, පරිරක්ෂණ ගුණය යනාදිය ලබාදීමට භාවිත කරන ශාකමය සම්භවයක් සහිත ද්‍රව්‍ය කුළුබඩු වේ.

**(ලකුණු 10)**

1. ආහාර ජීර්ණය ආශ්‍රිත ගැටළු පාලනය සඳහා
   උදා - ඉඟුරු, සුදුළූණු, උළුහාල්, සූදුරු
2. අහිතකර කොලෙස්ටරෝල්, අධිරුධිර පීඩනය, හෘදයාබාධ පාලනය
   උදා - සුදුළූණු, කරපිංච, කුරුඳු, උළුහාල්
3. දියවැඩියාව පාලනයට දායක වීම
   උදා - කුරුඳු, උළුහාල්, සුදුළූණු
4. ප්‍රතිඔක්සිකාරක ලෙස පිලිකා සෛල මර්දනය
   උදා - ගොරක, කරපිංච
5. මුඛ සෞඛ්‍ය ආරක්ෂාව

උදා - කුරුඳු, කරාබුනැටි

6. අක්ෂි රෝග දුරලීම

   උදා - කරපිංච

7. ක්ෂුද්‍රජීවී පාලනය

   උදා - ගොරක, කරාබුනැටි

8. හෘදයාබාධ වළක්වාගත හැකිවීම

   උදා- සුදුළූණු, කරපිංච, ගම්මිරිස්, කුරුඳු

9. වාත රෝග පාලනය

   උදා - උළුහාල්, සුදුළූණු, ගම්මිරිස්

**(කරුණු 8 සඳහා ලකුණු 2 බැගින් 02 x 8 = 16; එක් එක් කරුණට උදාහරණයක් සඳහා ලකුණු 3 බැගින් 03 x 8 = 24)**

(iii) **සංවේදී ඇගයීමක (Sensory evaluation) මූලික පියවර හා ඒවායේ වැදගත්කම උදාහරණ දක්වමින් පැහැදිලි කරන්න.**

සංවේදී ඇගයීමක් යනු ආහාරයක සුවඳ, රස, වයනය, වර්ණය යන මානයන් භාවිත කරමින් පාරිභෝගික රුචිකත්වය අනුව යම් ආහාරයක් ඇගයීමට ලක්කිරීම වේ.

(ලකුණු 10)

**මූලික පියවර ඃ-**

1. යොදාගන්නා පරීක්ෂණාගාරය ශබ්දවලින් හා විවිධ ගන්ධවලින් තොර ස්ථානයක් ලෙස සැකසීම. එමඟින් ආහාරයේ සුවඳ නිවැරදිව හඳුනාගත හැකිවීම.
2. පරීක්ෂණාගාරයේ පරිසර උෂ්ණත්වය $18^0$C - $21^0$C අතර සහ සාපේක්ෂ ආර්ද්‍රතාව 40 % පමණ විය යුතුය.
3. පරීක්ෂණයට ලක්කරන ආහාර සාම්පල හැකිතාක් සමරූපීව පවත්වා ගැනීම. එමගින් ආහාරයේ සාම්පල් අතර බාහිරින් වෙනස්කම් හඳුනාගත නොහැකි වේ.
4. පරීක්ෂණයට සහභාගි වන ඇගයීම් මණ්ඩල සාමාජිකයන්ගේ අංගචලන හෝ අදහස් හුවමාරු විය නොහැකි පරිදි පරිසරය සැකසීම. එමඟින් ආහාරය පිලිබඳ දත්ත රහසිගතව ඉදිරිපත් වේ.
5. නිර්මාණය කළ ආහාරය එකිනෙකට සුවිශේෂී බවකින් තොරව මේසය මත සැකසීම.
6. ඇගයීම් මණ්ඩලය පුද්ගලයින් 12 වත් යොදාගැනීම හා ඔවුන් ආහාර සූත්‍රනය කළ අය සමග සබඳතා නොතිබීම.
7. සුවිශේෂී පුහුණුවක් ලක් පුද්ගලයින් හා සංවේදීතාව ඉහල මට්ටමක තිබීම.

   උදා -

   - දුම්පානයෙන් තොර හා බුලත් විට නොකන අය
   - කුසගින්නේ, විඩාපත්ව නොසිටීම
   - දිය සහ නාසයේ ආසාදන නොතිබීම
   - ආහාරයේ රසයට බලපෑ හැකි ඖෂධ භාවිත නොකිරීම
8. ලබාගන්නා දත්ත කේත ක්‍රමයක් මගින් ඇගයීම් පත්‍රිකාවේ සටහන් කිරීම
9. සාමපල් වල රස බැලූ පසු එම රස දිවෙන් ඉවත් කිරීමට ක්‍රීම් ක්‍රැකර් බිස්කට් කොටසක් අනුභව කර කට සේදීම

10. ලබාගන්නා දත්ත සංඛ්‍යා විද්‍යාත්මකව විශ්ලේෂණය කිරීම

**(ලකුණු 3 බැගින් කරුණු 10 ක් පැහැදිලි කිරීම සඳහා 03 x 10 = 30; උදාහරණයක් බැගින් දැක්වීම සඳහා ලකුණු 1 බැගින් 01 x 10 =10 යි)**